## I කොටස

- එක් එක් ප්‍රශ්නයට අදාළ නිවැරදි පිළිතුර අඩංගු වරණය තෝරා එහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ ඇති **තිත් ඉර මත** ලියන්න.

1. දුරස්ථ සංවේද (Remote sensing) ක්‍රියාවලියේ අවස්ථා නිවැරදි අනුපිළිවෙළින් දැක්වෙන වරණය කුමක් ද?
   (1) ශක්ති මූලාශ්‍රය, පෘථිවිය මත ඇති වස්තූන්, චන්ද්‍රිකාව, පිරිසැකසුම් මධ්‍යස්ථානය, විශ්ලේෂණය
   (2) චන්ද්‍රිකාව, පිරිසැකසුම් මධ්‍යස්ථානය, විශ්ලේෂණය, ශක්ති මූලාශ්‍රය, පෘථිවිය මත ඇති වස්තූන්
   (3) ශක්ති මූලාශ්‍රය, පිරිසැකසුම් මධ්‍යස්ථානය, විශ්ලේෂණය, පෘථිවිය මත ඇති වස්තූන්, චන්ද්‍රිකාව
   (4) විශ්ලේෂණය, චන්ද්‍රිකාව, ශක්ති මූලාශ්‍රය, පෘථිවිය මත ඇති වස්තූන්, පිරිසැකසුම් මධ්‍යස්ථානය
   (5) ශක්ති මූලාශ්‍රය, පිරිසැකසුම් මධ්‍යස්ථානය, පෘථිවිය මත ඇති වස්තූන්, විශ්ලේෂණය, චන්ද්‍රිකාව

2. භූගෝලීය තොරතුරු පද්ධතියෙහි (GIS) ආදාන උපාංග යුගලය කුමක් ද?
   (1) අංකන ඵලකය සහ මුද්‍රණ යන්ත්‍රය
   (2) මුද්‍රණ යන්ත්‍රය සහ චුම්භක තැටිය
   (3) අංකන ඵලකය සහ සන්දර්ශකය
   (4) මුද්‍රණ යන්ත්‍රය සහ සුපරීක්ෂකය
   (5) සුපරීක්ෂකය සහ අංකන ඵලකය

30. ගංගාවක් හෝ ඇළ මාර්ගයක් හෝ පස්සේ ව්‍යාප්තව වූ ජනාවාස රටාවක් හඳුන්වන්නේ කුමන නමකින් ද?
(1) පොකුරු ජනාවාස (2) චක්‍රීය ජනාවාස
(3) රේඛීය ජනාවාස (4) විසිරුණු ජනාවාස
(5) න්‍යෂ්ටික ජනාවාස (......)

31. ජනවිද්‍යා සංක්‍රාන්තියෙහි පසු ප්‍රසාරණ අදියරේ දී,
(1) උපත් අනුපාතිකය මරණ අනුපාතිකයට වඩා අඩු ය.
(2) මරණ අනුපාතිකය අඩුවීම ඇරඹුණ ද උපත් අනුපාතිකය නොවෙනස්ව පවතී.
(3) උපත් අනුපාතිකයත් මරණ අනුපාතිකයත් පහළ මට්ටමක පවතී.
(4) උපත් අනුපාතිකයත් මරණ අනුපාතිකයත් ඉහළ මට්ටමක පවතී.
(5) මරණ අනුපාතිකය තවදුරටත් අඩුවන අතර උපත් අනුපාතිකය ද අඩු වී යයි. (......)

32. බහුජාතික සමාගම් සිය කර්මාන්ත සංවර්ධනය වෙමින් පවත්නා රටවල පිහිටුවනු ලබන්නේ,
(1) දිළිඳු රටවල ආර්ථිකය නංවාලීමට ඇති කැමැත්ත නිසා ය.
(2) සිය මව්රටවල පවත්නා අයහපත් ආර්ථික ප්‍රතිපත්ති නිසා ය.
(3) සංවර්ධනය වෙමින් පවතින රටවල සූක්ෂ්ම කාර්මික තාක්ෂණය පවතින බැවින් ය.
(4) සංවර්ධනය වෙමින් පවතින රටවල විශාල ආයෝජක පිරිසක් තමුන්ගේ මුදල් ආයෝජනයට කැමති නිසා ය.
(5) නිෂ්පාදන වියදම අඩු නිසා අධික ලාභ ලැබිය හැකි බැවිනි. (......)

33. දකුණු ආසියානු රටවල් අතරින් ශ්‍රී ලංකාව ඉහළ මානුෂ සංවර්ධන දර්ශක අගයක් හිමි කර ගෙන තිබේ. ඊට ප්‍රධාන හේතුව වන්නේ,
(1) රටේ පරිපාලන ක්‍රමය විමධ්‍යගත කිරීම ය.
(2) රජය විසින් ක්‍රියාත්මක කළ ජනගහන ප්‍රතිපත්තීන් ය.
(3) රජය විසින් ක්‍රියාත්මක කළ සුබසාධන සංවර්ධන ප්‍රතිපත්තීන් ය.
(4) රට තුළ ජනපද යෝජනා ක්‍රම පිහිටුවීම ය.
(5) ආනයන-අපනයන ආර්ථික ක්‍රමයක් ඉදිරිපත් කිරීම ය. (......)

34. මානුෂ භූගෝල විද්‍යාවේ උප විෂය ක්ෂේත්‍ර තුනක් දැක්වෙන්නේ කුමන වරණයෙහි ද?
(1) ග්‍රාමීය භූගෝල විද්‍යාව, ජනාවාස භූගෝල විද්‍යාව, කෘෂිකාර්මික භූගෝල විද්‍යාව
(2) ප්‍රවාහන භූගෝල විද්‍යාව, කෘෂිකාර්මික භූගෝල විද්‍යාව, පාංශු භූගෝල විද්‍යාව
(3) කෘෂිකාර්මික භූගෝල විද්‍යාව, පාංශු භූගෝල විද්‍යාව, කාර්මික භූගෝල විද්‍යාව
(4) ජෛව භූගෝල විද්‍යාව, පාංශු භූගෝල විද්‍යාව, සංවර්ධන භූගෝල විද්‍යාව
(5) ඓතිහාසික භූගෝල විද්‍යාව, ජෛව භූගෝල විද්‍යාව, කාර්මික භූගෝල විද්‍යාව (.....

35. ලෝකයේ ප්‍රධාන ජන සංකේන්ද්‍රණ තුනක් සහිත මහාද්වීපය කුමක් ද?
(1) දකුණු ඇමෙරිකාව (2) අප්‍රිකාව
(3) උතුරු ඇමෙරිකාව (4) යුරෝපය
(5) ආසියාව (...

36. ශ්‍රී ලංකාවේ තෙත් කලාපයෙහි පිහිටි නගරයකට සහ වියළි කලාපයෙහි පිහිටි නගරයකට උදාහරණ පිළිවෙ
දැක්වෙන වරණය කුමක් ද?
(1) මාතලේ සහ මහනුවර (2) කෑගල්ල සහ රත්නපුරය
(3) ගාල්ල සහ ගම්පහ (4) වවුනියාව සහ හම්බන්තොට
(5) කළුතර සහ මඩකලපුව

37. දකුණු ආසියානු කලාපීය සහයෝගිතා සංවිධානයේ (SAARC) සාමාජික රටවල් තුනක් දැක්වෙන්
වරණයෙහි ද?
(1) පාකිස්තානය, නේපාලය, භූතානය
(2) ඉන්දියාව, බංග්ලාදේශය, මියන්මාරය
(3) නේපාලය, භූතානය, ලාඕසය
(4) පාකිස්තානය, ඇෆ්ගනිස්තානය, උස්බෙකිස්තානය
(5) ඇෆ්ගනිස්තානය, බංග්ලාදේශය, ඕමානය

38. කර්මාන්ත ස්ථානගත කිරීම පිළිබඳ සාම්ප්‍රදායික සාධක හතරක් වන්නේ,
(1) අමුද්‍රව්‍ය, බලශක්තිය, දේශගුණය සහ අධ්‍යාපනයයි.
(2) ශ්‍රමය, අමුද්‍රව්‍ය, බලශක්තිය සහ ප්‍රාග්ධනයයි.
(3) ජන ඝනත්වය, බලශක්තිය, අමුද්‍රව්‍ය සහ ශ්‍රමයයි.
(4) බලශක්තිය, ශ්‍රමය, දේශගුණය සහ තාක්ෂණික දැනුමයි.
(5) ශ්‍රමය, ප්‍රවාහනය, අධ්‍යාපනය සහ ප්‍රාග්ධනයයි.

21. සිලිකන් 55% ට අඩු සහ යකඩ 45% ක් පමණ වන රසායන සංයුතියකින් යුත් ආග්නේය පාෂාණ වර්ග දෙකක් දැක්වෙන්නේ කුමන වරණයෙහි ද?
(1) ගැබ්‍රෝ සහ බැසෝල්ට්
(2) ඇන්ඩසයිට් සහ ඩයොරයිට්
(3) පෙරිඩොටයිට් සහ බැසෝල්ට්
(4) ග්‍රැනයිට් සහ ඔබ්සිඩියන්
(5) සිලිකේට් සහ රයොලයිට්
(......)

22. දේශගුණ වෙනස්වීම්වලට දායකවන ස්වාභාවික සාධක දෙකක් වන්නේ,
(1) ගෝලීයකරණය සහ සාගර ජලයේ උෂ්ණත්වය ඉහළ යෑම ය.
(2) ගිනිකඳු ක්‍රියාකාරිත්වය සහ පොසිල ඉන්ධන දහනය ය.
(3) කාර්මික වායු විමෝචනය සහ ලාක්ෂණික ක්‍රියාකාරිත්වය ය.
(4) සූර්ය ලප ඇතිවීම සහ ගිනිකඳු ක්‍රියාකාරිත්වය ය.
(5) කෘෂි පාලන කටයුතු සහ ලැව්ගිනි ය.
(......)

23. ශ්‍රී ලංකාවේ උතුරුමැද පළාතේ දිස්ත්‍රික්කවල වැඩිපුර පවතින ප්‍රධාන පාංශු වර්ගය වන්නේ,
(1) රතු සහ පොඩ්සොලික් පස ය.
(2) රතු දුඹුරු ලැටසොල් ය.
(3) රතු දුඹුරු පස ය.
(4) ග්ලේසොල් ය.
(5) රෙගොසොල් ය.
(......)

24. කොපන්ගේ දේශගුණ වර්ගීකරණයට අනුව නිවර්තන සවානා දේශගුණයක් දක්නට ලැබෙන කලාප දෙකක් නම්,
(1) තායිලන්තය සහ මැඩගස්කරයේ වයඹදිග වෙරළ ය.
(2) මියන්මාරය සහ අප්‍රිකානු මහද්වීපයේ ලයිබීරියාව ය.
(3) කොන්ගෝ ද්‍රෝණිය සහ කැරිබියන් දූපත් ය.
(4) නැගෙනහිර මැඩගස්කරය සහ නැගෙනහිර බ්‍රසීලය ය.
(5) ඉන්දියාවේ ඩෙකැන් ප්‍රදේශය සහ සියම් ලිගැනිය ය.
(......)

25. ශ්‍රී ලංකාවේ ජාතික වනෝද්‍යාන දෙකක් වන්නේ,
(1) රන්වැලේ සහ කුන්දලයි.
(2) උඩවලව සහ රන්දෙනිගලයි.
(3) විල්පත්තු සහ වස්ගමුවයි.
(4) වික්ටෝරියා සහ මින්නේරියයි.
(5) ගිරිතලේ සහ හෝර්ටන් තැන්නයි.
(......)

26. දළ උපත් අනුපාතිකය සහ දළ මරණ අනුපාතිකය අතර ඇති වෙනස නිසා සිදුවන ජනසංඛ්‍යාවේ වෙනස් වීම නිවැරදිව දක්වනු ලබන්නේ කුමන වරණයෙන් ද?
(1) සෘණ ජනසංඛ්‍යා වර්ධනය
(2) ජනසංඛ්‍යා වර්ධනය
(3) ධන ජනසංඛ්‍යා වර්ධනය
(4) ස්වාභාවික වර්ධනය
(5) සැබෑ ජනසංඛ්‍යා වර්ධනය
(......)

27. ද්විතියික ආර්ථික ක්‍රියාකාරකමක් සහ තෘතීයික ආර්ථික ක්‍රියාකාරකමක් පිළිවෙළින් සඳහන් වන්නේ පහත කුමන වරණයෙහි ද?
(1) ආකර කර්මාන්තය සහ යකඩ හා වානේ කර්මාන්තය
(2) රෙදිපිළි කර්මාන්ත සහ ප්‍රවාහනය
(3) කෘෂිපාදක කර්මාන්ත සහ ධීවර කර්මාන්තය
(4) බැංකු සේවා සහ සංචාරක කර්මාන්තය
(5) වෙළඳාම සහ ප්‍රවාහනය
(......)

28. වයස අවුරුදු 0-14 දක්වා සහ අවුරුදු 65 සහ ඊට ඉහළ මිනිසුන් සංඛ්‍යාව, වයස අවුරුදු 15 සිට 64 දක්වා වූ මිනිසුන් සංඛ්‍යාවෙන් බෙදූවිට එය හඳුන්වන්නේ කුමන යෙදුමකින් ද?
(1) වියපත් යැපුම් අනුපාතය
(2) ශ්‍රම බලකාය
(3) වයස්-පුම්සිටි අනුපාතය
(4) යැපුම් අනුපාතය
(5) ළමා-වැඩිහිටි අනුපාතය
(......)

29. කෘෂිකාර්මික භූමිය මත අධික ජන පීඩනයක් ඇති ප්‍රදේශවල කෙරෙන ගොවිතැන් ක්‍රමය කුමක් ද?
(1) ප්‍රාථමික පාරිභෝගික කෘෂිකර්මය
(2) වාණිජ ධාන්‍ය වගාව
(3) සියුම් පාරිභෝගික කෘෂිකර්මය
(4) වතු කෘෂිකර්මය
(5) විස්තෘත පාරිභෝගික කෘෂිකර්මය
(......)

13. ග්ලැසියර ක්‍රියාව මගින් නිර්මාණය වන ඛාදිත හා නිධිපාදිත භූ රූප දෙකක් පිළිවෙළින් දැක්වෙන වරණය කුමක් ද?
(1) සිව්විල් සහ ලම්බ නිම්න. (2) අතුරු මැටි සහ සේම.
(3) අගම් ගල් සහ එස්කර්. (4) සර්ක සහ ඩ්‍රම්ලින්.
(5) අරේට සහ U-හැඩ නිම්න (......)

14. දේශගුණය සහ කාලගුණය වෙන්කර දක්වන නිවැරදි වරණය කුමක් ද?
(1) දේශගුණය යනු කෙටිකාලීන වායුගෝලීය තත්ත්වය වන අතර කාලගුණය යනු එහි දිගුකාලීන රටා විස්තර කිරීමයි.
(2) දේශගුණය යනු වායුගෝලීය සංසිද්ධීන්වල දිගුකාලීන සාමාන්‍ය වන අතර, කාලගුණය යනු කිසියම් ස්ථානයක නිශ්චිත වේලාවක වායුගෝලීය තත්ත්වය යි.
(3) කාලගුණය වායුගෝලීය සමස්ත තත්ත්වය විස්තර කරන අතර දේශගුණය දෛනික වායුගෝලීය තත්ත්වය පිළිබඳ අවධානය යොමු කරයි.
(4) දේශගුණය දෛනික වායුගෝලීය තත්ත්වය විස්තර කරන අතර කාලගුණය වායුගෝලයේ වාර්ෂික සාමාන්‍ය තත්ත්වය පිළිබිඹු කරයි.
(5) දේශගුණය සහ කාලගුණය සමානාර්ථ පද වන අතර ඒවායෙන් වායුගෝලීය පොදු තත්ත්වයන් විස්තර කරයි.
(......)

15. ආක්‍රාන්ත යමකම සඳහා උදාහරණයක් වන්නේ,
(1) යම්හල් අර සේතුවයි. (2) ලාවා දෝරයයි. (3) කල්දේරාවයි.
(4) ආවාට විලයි. (5) බැතොලිතයයි. (......)

16. බියෝමයක නිවැරදි නිර්වචනය කුමක් ද?
(1) විශේෂිත වූ ශාක සහිත කුඩා ස්ථානීය පරිසර පද්ධතියකි.
(2) වැසි වනාන්තරවල පමණක් දක්නට ලැබෙන ශාක්ලතා විශේෂයකි.
(3) එක් මහාද්වීපයක් තුළ දක්නට ලැබෙන සමාන පරිසර පද්ධතිවල එකතුවකි.
(4) නොගැඹුරු සාගර ජලයේ පමණක් දක්නට ලැබෙන පරිසර පද්ධතියකි.
(5) සුවිශේෂී දේශගුණික කලාපයක දක්නට ලැබෙන ශාක හා සත්ත්ව ප්‍රජාවකි. (......)

17. වර්ෂණ ක්‍රම හතරක් පමණක් දැක්වෙන්නේ කුමන වරණයෙහි ද?
(1) තුහින, මීදුම, තුෂාර, ආර්ද්‍රතාව (2) වැස්ස, ආර්ද්‍රතාව, තුෂාර, හිමකැට වැස්ස
(3) වලාකුළු, හිමකැට වැස්ස, තුෂාර, මීදුම (4) තුහින, මීදුම, තුෂාර, හිමකැට වැස්ස
(5) මීදුම, තුෂාර, හිමකැට වැස්ස, ආර්ද්‍රතාව (......)

18. ශ්‍රී ලංකාවේ දේශගුණය නිර්ණය කරන ස්ථානීය සාධක තුනක් දැක්වෙන වරණය කුමක් ද?
(1) දිවයිනක් වීම, මුහුදේ සිට ඇති දුර, උන්නතාංශය
(2) ජල තල, උන්නතාංශය, අක්ෂාංශීය පිහිටීම
(3) භූ විෂමතාව, උන්නතාංශය, අන්තර් නිවර්තන අභිසරණ කලාපය
(4) වන වැස්ම, අක්ෂාංශීය පිහිටීම, භූ විෂමතාව
(5) දිවයිනක් වීම, උන්නතාංශය, ඉන්දීය උපමහාද්වීපයේ බලපෑම (......)

19. සුළං ක්‍රියාව නිසා නිර්මාණය වන ඛාදිත භූ රූප තුනක් අඩංගු වරණය කුමක් ද?
(1) ඉන්සෙල්බර්ග්, මේසාව සහ අරේටය ය.
(2) වැලි වැටි, ඉන්සෙල්බර්ග් සහ මලදොළ ය.
(3) තාරකා වැලි වැටි, මේසාව සහ ගල්වන ය.
(4) සොයිගමය, බියුටය සහ ඩ්‍රම්ලින් ය.
(5) යාඩෑම, ඉන්සෙල්බර්ග් සහ සොයිගමය ය. (......)

20. මධ්‍යධරණී බියෝමයෙහි ශාක්ලතාවන්ගේ ප්‍රධානතම ගති ලක්ෂණයක් වන්නේ,
(1) ප්‍රමුඛ ගස්වල උස මීටර් 25 සිට 30 දක්වා වීම ය.
(2) බොහෝ ශාක පතනශීලී වර්ගවලට අයත් වීම ය.
(3) ශීත සෘතුවේදී ශාක පත්‍ර හැලීම ය.
(4) ජෛවවිවිධත්වය සැලකිය යුතු ලෙස ඉහළ මට්ටමක පැවතීම ය.
(5) ගැඹුරට විහිදුණු මුල් පද්ධතියක් මගින් භූගත ජලය උරා ගැනීම ය. (......)

3. භූගෝලීය තොරතුරු පද්ධතියෙහි භාවිත විවෘත මූලාශ්‍ර මෘදුකාංගයක් වන්නේ,
   (1) ArcGIS ය.  (2) Global Mapper ය.
   (3) QGIS ය.  (4) MapInfo ය.
   (5) Intergraph ය. (......)

4. 1:25 000 පරිමාණයේ භූ ලක්ෂණ සිතියමක වාරිමාර්ග ඇළක දිග සෙන්ටිමීටර 12 කි. එහි සැබෑ දිග කිලෝමීටර කොපමණ ද?
   (1) 2  (2) 3  (3) 4  (4) 6  (5) 12 (......)

5. 1:50 000 පරිමාණයේ භූ ලක්ෂණ සිතියමක සමෝච්ච රේඛා මගින් හඳුනාගත හැකි භූ ලක්ෂණ තුනක් වන්නේ,
   (1) සානුව, කඳුවැටිය සහ දළ බෑවුම යි.
   (2) ගං දගරය, දියබෙත්ම සහ දළ බෑවුම යි.
   (3) ගං දගරය, කඳුවැටිය සහ ශාඛික ජලවහන රටාව යි.
   (4) උත්තල බෑවුම, ගං මෝය සහ හැඩපළු ගංගාව යි.
   (5) හැඩපළු ගංගාව, දියබෙත්ම සහ ගං මෝය යි. (......)

6. ඕනෑම කාලගුණ මධ්‍යස්ථානයක් පිහිටි ස්ථානයක මාසික සාමාන්‍ය උෂ්ණත්වය, මාසික උපරිම උෂ්ණත්වය සහ මාසික අවම උෂ්ණත්වය යන වටිනාකම් දැක්වීම සඳහා සුදුසු ප්‍රස්තාරික ක්‍රමය වන්නේ,
   (1) සංයුක්ත තීරු ප්‍රස්තාරයයි.  (2) බහු රේඛා ප්‍රස්තාරයයි.
   (3) වෘත්ත (pie) ප්‍රස්තාරයයි.  (4) බහු තීරු ප්‍රස්තාරයයි.
   (5) සරල රේඛා ප්‍රස්තාරයයි. (......)

7. 1:50000 පරිමාණයේ භූ ලක්ෂණ සිතියමක පරිමාණයකින් තොරව නිරූපණය කරනු ලබන ලක්ෂණය කුමක් ද?
   (1) වැව  (2) ප්‍රධාන ගංගාව
   (3) වී වගාව  (4) ගොඩනැගිල්ල
   (5) වන රක්ෂිතය (......)

8. අවකාශීය දත්තයක් සඳහා උදාහරණයක් වන්නේ,
   (1) ගමක ළිංවල ජලයේ ඇති ගුණාත්මක බව ය.
   (2) ගමක තිබෙන නිවාසවල ව්‍යාප්තිය ය.
   (3) ගමක සිටින මුළු ජනසංඛ්‍යාව ය.
   (4) ගම්වැසියන්ගේ ආදායම් මාර්ග ය.
   (5) ගම්වැසියන්ගේ අධ්‍යාපන මට්ටම ය. (......)

9. ගුණාත්මක දත්ත වර්ග දෙකක් දැක්වෙන වරණය කුමක් ද?
   (1) මහ කන්නයේ වී අස්වැන්න, ගොවීන්ගේ ආකල්ප
   (2) කඳුවැටියක ව්‍යාප්තිය, කඳු මුදුන් සංඛ්‍යාව
   (3) කඳුවැටියක සුන්දරත්වය, ගංවතුර නිරීක්ෂණය
   (4) සිතියම් නිර්මාණයේ කුසලතාව, භූගෝල විද්‍යාව විෂය හදාරන සිසුන් ගණන
   (5) ජල පෝෂක ප්‍රදේශයේ ස්වභාවය, ප්‍රදේශයක වර්ග ප්‍රමාණය (......)

10. සංඛ්‍යා දත්ත ව්‍යාප්තියක මාතය,
   (1) මධ්‍යන්‍යයට වඩා විශාල අගයක් වේ.  (2) අඩුම වාර ගණනක් යෙදෙන අගය වේ.
   (3) මධ්‍යස්ථයට වඩා විශාල අගයක් වේ.  (4) වැඩිම වාර ගණනක් යෙදෙන අගය වේ.
   (5) මධ්‍යස්ථයට සමාන අගයක් වේ. (......)

11. මැග්මා සිසිල් වීම හා ඝනීකරණය වීම මගින් නිර්මාණය වන පාෂාණ වර්ගය කුමක් ද?
   (1) අවසාදිත පාෂාණ  (2) ආග්නේය පාෂාණ
   (3) විපරීත පාෂාණ  (4) චූර්ණමය පාෂාණ
   (5) පාරභාස්මික පාෂාණ (......)

12. ලෝකයේ ඇති මුළු ජල ප්‍රමාණයෙන් මිරිදිය ලෙස සලකනු ලබන ජල ප්‍රමාණයේ ප්‍රතිශතය කොපමණ ද?
   (1) 1.5%  (2) 2.5%  (3) 9.5%  (4) 32.5%  (5) 67.5% (......)

39. දැවැන්ත නගරයක (mega city) ජන සංඛ්‍යාවේ විශාලත්වය කොපමණ ද?
(1) මිලියන 10 ට වැඩි
(2) මිලියන 1 ට වැඩි
(3) මිලියන 1-10 අතර
(4) මිලියන 5 ට වැඩි
(5) 500 000 ට වැඩි

(......)

40. රටක සංක්‍රමණ කෙරෙහි බලපාන, ආරම්භක ස්ථානයෙහි තල්ලු කිරීමේ සාධකයක් සහ ගමනාන්තයෙහි ඇද ගැනීමේ සාධකයක් පිළිවෙළින් දැක්වෙන වරණය කුමක් ද?
(1) අධික ජීවන වියදම සහ ගමනාගමනයෙහි සීමා
(2) සාමකාමී පරිසරය සහ පාරිසරික ව්‍යසන
(3) සේවා නියුක්ති අවස්ථා සීමාව සහ ජීවත්වීමේ නිදහස
(4) පහළ ජීවන වියදම සහ සේවා නියුක්ති අවස්ථා සීමාව
(5) අස්ථාවර දේශපාලන වාතාවරණය සහ සීමිත නිදහස

(......)

❋ ❋

33815



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Adv. Level) Examination, 2023 (2024)

භූගෝල විද්‍යාව II
புவியியல் II
Geography II

22 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

**උපදෙස් :**
※ එක් කොටසකින් අවම වශයෙන් ප්‍රශ්න **දෙකක්වත්** තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස - භෞතික භූගෝල විද්‍යාව

1. (i) ජලගෝලයෙහි ජලය ව්‍යාප්තව පවතින ආකාර **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02 යි)
   (ii) ජල චක්‍රයේ රූප සටහනක් ඇඳ, එහි දැක්වෙන ඕනෑම අවස්ථා **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) පෘථිවි තලය කෙරෙහි ජල චක්‍රයේ බලපෑම් **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iv) ශ්‍රී ලංකාවේ ජල සම්පත් සංරක්ෂණය සඳහා අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග **තුනක්** සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

2. (i) වායුගෝලීය පද්ධතිය යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)
   (ii) වායුගෝලීය පද්ධතියේ ඕනෑම ලක්ෂණ **හතරක්** සඳහන් කරන්න. (ලකුණු 06 යි)
   (iii) වායුගෝලය මිනිසාට බලපාන ආකාරය නිදසුන් **තුනක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iv) අහිතකර මිනිස් ක්‍රියාකාරකම් මගින් වායුගෝලයට ඇතිවන බලපෑම් නිදසුන් **තුනක්** ඇසුරින් කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

3. ගංගාවක දික් පැතිකඩක් පහත රූපයෙන් දැක්වේ.

ගංගාවක දික්පැතිකඩ




   (i) ඉහත රූපයේ Ⓐ, Ⓑ සහ Ⓒ ලෙස දක්වා ඇති අදියර නම් කරන්න. (ලකුණු 03 යි)
   (ii) Ⓐ, Ⓑ සහ Ⓒ යන අදියරවලදී ගංගාවේ ක්‍රියාකාරිත්වයේ ස්වභාවය කෙටියෙන් වෙන් වෙන් ව විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) ඉහත 3(i) හි සඳහන් කළ එක් එක් අදියරයන්හි ගංගා ක්‍රියාකාරිත්වය මගින් නිර්මාණය කරන භූ රූප **එක** බැගින් සුදුසු රූප සටහන් ඇසුරින් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iv) පැතිකඩෙහි Ⓒ අදියරේ දී ගංගාවක් මිනිසුන්ට ප්‍රයෝජනවත් වන්නේ කෙසේදැයි උදාහරණ **දෙකක්** ඇසුරින් සාකච්ඡා කරන්න. (ලකුණු 05 යි)

4. (i) තෙත් බිමක් යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද?
(ලකුණු 02 යි)

(ii) තෙත් බිම පරිසර පද්ධතියකින් ලැබෙන ප්‍රධාන වාසි **තුනක්** කෙටියෙන් විස්තර කරන්න.
(ලකුණු 06 යි)

(iii) මානව ක්‍රියාකාරකම් නිසා තෙත් බිම් ආශ්‍රිතව උද්ගතවී ඇති ගැටලු **තුනක්** පැහැදිලි කරන්න.
(ලකුණු 06 යි)

(iv) තෙත් බිම් සංරක්ෂණය සඳහා ශ්‍රී ලංකා රජය විසින් අනුගමනය කර ඇති ක්‍රියාමාර්ග **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න.
(ලකුණු 06 යි)

## II කොටස - මානුෂ භූගෝල විද්‍යාව

5. **(A)** සහ **(B)** රූපවලින් ජනසංඛ්‍යා පිරමීඩ වර්ග දෙකක් දැක්වේ. ඒවා පදනම් කර ගෙන පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.




(A)




(B)

(i) ජනසංඛ්‍යා පිරමීඩයක් යනු කුමක් ද?
(ලකුණු 02 යි)

(ii) **(A)** රූපයට සමාන ජනසංඛ්‍යා පිරමීඩයක් සහිත රටක ජනසංඛ්‍යාවේ ගති ලක්ෂණ **තුනක්** කෙටියෙන් විස්තර කරන්න.
(ලකුණු 06 යි)

(iii) **(B)** රූපයට සමාන ජනසංඛ්‍යා පිරමීඩයක් සහිත රටක ජනසංඛ්‍යාවේ ගති ලක්ෂණ **තුනක්** කෙටියෙන් විස්තර කරන්න.
(ලකුණු 06 යි)

(iv) **(A)** සහ **(B)** රූපවලින් දැක්වෙන ජනසංඛ්‍යා පිරමීඩ සහිත රටවල් මුහුණ දෙන ගැටලු **තුන** බැගින් කෙටියෙන් සාකච්ඡා කරන්න.
(ලකුණු 06 යි)

6. (i) හරිත විප්ලවය සහ ජෛව්‍ය කෘෂිකර්මය අතර ඇති වෙනස කුමක් ද?
(ලකුණු 02 යි)

(ii) හරිත විප්ලවයෙහි ඕනෑම ප්‍රධාන සංරචක **හතරක්** කෙටියෙන් විස්තර කරන්න.
(ලකුණු 06 යි)

(iii) හරිත විප්ලවයෙහි අවාසි **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න.
(ලකුණු 06 යි)

(iv) ජෛව්‍ය කෘෂිකර්මයෙහි වාසි **තුනක්** පැහැදිලි කරන්න.
(ලකුණු 06 යි)

7. පහත 1 රූප සටහන මගින් ශ්‍රී ලංකාවට සංචාරකයින්ගේ පැමිණීම 2001 - 2022 නිරූපණය වේ.

**රූප සටහන 1 : ශ්‍රී ලංකාවට පැමිණි සංචාරකයින්ගේ සංඛ්‍යාව, 2001 - 2022**




මූලාශ්‍රය : *ශ්‍රී ලංකා සංචාරක සංවර්ධන අධිකාරිය, 2023*

(i) ශ්‍රී ලංකාවට සංචාරකයින් ආකර්ෂණය කරන ප්‍රධාන සංචාරක පදනම් **දෙක** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ඉහත 1 රූප සටහනෙහි නිරූපිත පරිදි ශ්‍රී ලංකාවට සංචාරකයින්ගේ පැමිණීමෙහි ප්‍රවණතා **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) ඔබ ඉහත 7 (ii) හි සඳහන් කළ ප්‍රවණතාවලට පාදක වූ හේතු **තුනක්** විමසන්න. (ලකුණු 06 යි)

(iv) ශ්‍රී ලංකාවේ ප්‍රාදේශීය සංවර්ධනයට සංචාරක කර්මාන්තය දායක වී ඇති ආකාරය උදාහරණ **තුනක්** සහිතව සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

8. පහත වගුව 1 මගින් කලාපීය වශයෙන් ලෝකයේ පෙට්‍රෝලියම් සංචිත ව්‍යාප්තිය දක්වයි.

**වගුව 1 : 1992 සිට 2020 දක්වා කලාපීය වශයෙන් ලෝකයේ පෙට්‍රෝලියම් සංචිත ව්‍යාප්ති රටාව. (මුළු සංචිතයෙහි ප්‍රතිශතයක් වශයෙන්)**

| ලෝකයේ කලාප | 1992 | 2002 | 2012 | 2020 |
|---|---|---|---|---|
| මැදපෙරදිග | 63.7 | 56.1 | 48.4 | 48.3 |
| දකුණු සහ මධ්‍යම ඇමෙරිකාව | 7.6 | 7.6 | 19.7 | 18.7 |
| උතුරු ඇමෙරිකාව | 11.7 | 17.3 | 13.2 | 14.0 |
| යුරෝපය සහ පොදුරාජ්‍ය මණ්ඩලීය නිදහස් රටවල් (CIS) | 7.5 | 8.3 | 8.4 | 9.2 |
| අප්‍රිකාව | 5.9 | 7.6 | 7.8 | 7.2 |
| ආසියා ශාන්තිකර | 3.6 | 3.1 | 2.5 | 2.6 |
| **ලෝකය** | **100.0** | **100.0** | **100.0** | **100.0** |

මූලාශ්‍රය : *https://www.statista.com*

(i) නිෂ්පාදන කර්මාන්ත සහ නිෂ්කර්ශක කර්මාන්ත අතර වෙනස කුමක් ද? (ලකුණු 02 යි)

(ii) ඉහත 1 වගුවේ දත්ත පරිශීලනය කරමින් ලෝකයේ පෙට්‍රෝලියම් සංචිත ව්‍යාප්ති රටාවේ ලක්ෂණ **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) ලෝක පෙට්‍රෝලියම් වෙළඳාමෙහි කැපී පෙනෙන ලක්ෂණ **තුනක්** විමසන්න. (ලකුණු 06 යි)

(iv) ලෝකයේ නිෂ්කර්ශක කර්මාන්ත ආශ්‍රිත ගැටලු **තුනක්** සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

* * *

**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2023(2024)
General Certificate of Education (Adv. Level) Examination, 2023(2024)

| | |
|---|---|
| භූගෝල විද්‍යාව | I |
| புவியியல் | I |
| Geography | I |

**22 S I**

**උපදෙස්:**

- ※ **II** කොටසෙහි ප්‍රශ්න **දෙකට ම** පිළිතුරු සැපයිය යුතු ය.
- ※ **III** කොටස ප්‍රශ්න **හතරකින්** සමන්විත වන අතර ඉන් තෝරාගත් ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සැපයිය යුතු ය.
- ※ මෙම ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම සඳහා 1:50 000 භූ ලක්ෂණ සිතියමක කොටසක්, ලෝක ආකෘති සිතියමක්, ඩ්‍රොවින් කඩදාසි 2 ක් සහ ප්‍රස්තාර කඩදාසි 1 ක් සපයනු ලැබේ.

## II කොටස

1. ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව මඟින් ප්‍රකාශයට පත් කරන ලද 1:50 000 පරිමාණයේ මහියංගණය භූ ලක්ෂණ සිතියමෙන් කොටසක් ඔබට සපයා ඇත. එහි සමෝච්ඡ රේඛා අන්තරය මීටර 20 ලෙස දක්වා ඇත. එම සිතියම පාදක කර ගනිමින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**සැලකිය යුතුයි:**

- ※ **ප්‍රශ්නයට අදාළ අංකය** සහ අදාළ **උප කොටස්වල අංක**, පිළිතුරු පත්‍රයේ පැහැදිලි ව සඳහන් කළ යුතු ය.
- ※ **පිළිතුරු භූ ලක්ෂණ සිතියමෙහි ලිවිය යුතු නොවේ.**
- ※ සපයා ඇති භූ ලක්ෂණ සිතියම ඔබේ පිළිතුරු පත්‍රයට ඇමිණිය යුතු **නොවේ**.

(i) Ⓐ චතුරස්‍රය තුළ දැක්වෙන භෞතික ලක්ෂණය නම් කරන්න. (ලකුණු 01 යි)

(ii) Ⓒ - Ⓓ රේඛාවෙන් දක්වා ඇති භූ ලක්ෂණය නම් කරන්න. (ලකුණු 01 යි)

(iii) සිතියම් ප්‍රදේශය තුළ හඳුනාගත හැකි ප්‍රධාන ජලවහන රටා **දෙක** නම් කරන්න. (ලකුණු 02 යි)

(iv) Ⓑ චතුරස්‍රය තුළ දැක්වෙන වී වගා ප්‍රදේශය 1:12 500 පරිමාණයට නැවත ඇඳ දක්වන්න. (ලකුණු 02 යි)

(v) සිතියමෙහි ජලාශයක් මත සලකුණු කොට ඇති පරිපාලන මායිම නම් කරන්න. (ලකුණු 01 යි)

(vi) සිතියම් ප්‍රදේශය තුළ දක්නට ලැබෙන ඕනෑම රාජ්‍ය ආයතන **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(vii) (a) සිතියම් ප්‍රදේශයේ ජනාවාස ව්‍යාප්තිය විස්තර කරන්න. (ලකුණු 02 යි)

(b) ජනාවාස රටාවේ ව්‍යාප්තියට බලපා ඇති සාධක **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(viii) සිතියම් ප්‍රදේශයේ පවතින කෘෂිකාර්මික භූමි පරිභෝජනය කෙරෙහි බලපා ඇති භෞතික සාධක **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

2. සම්මත සංකේත හා වර්ණ යොදා ගනිමින් පහත සඳහන් දෑ සපයා ඇති ලෝක ආකෘති සිතියමෙහි **ලකුණු කර** නම් කරන්න.

- වෙන්නායි
- මළ මුහුද
- ග්‍රිනිච් මධ්‍යහ්න රේඛාව
- සැම්බෙසි ගඟ
- පැනමා ඇළ
- කම්චැට්කා අර්ධද්වීපය
- ඇපලේචියානු කඳුවැටිය
- කුරෝෂියෝ දියවැල
- 2022 වර්ෂයේ දී ඉහළම මානුෂ සංවර්ධන දර්ශක (HDI) අගය වාර්තා වූ රට
- 2023 වර්ෂයේ දී 15 වැනි බ්‍රික්ස් (BRICS) සමුළුව පැවැත්වූ නගරය

(ලකුණු 10 යි)

## III කොටස

**3.** (i) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධතිය (GPS) යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

(ii) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධතියේ භාවිත කෙරෙන යාත්‍රණ (navigation) චන්ද්‍රිකාවල ගුණාංග **දෙකක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)

(iii) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධතියේ මූලික උපාංග **තුනක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 03 යි)

(iv) ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධතියෙහි ප්‍රයෝජන **තුනක්** උදාහරණ සහිතව පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**4.** (i) පර්යේෂකයෙකු විසින් භාවිත කෙරෙන ප්‍රාථමික දත්ත රැස් කිරීමේ ක්‍රම **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ඔබ ඉහත 4(i) හි සඳහන් කළ ක්‍රමවලින් එකක් තෝරාගෙන එහි වාසි **දෙකක්** සහ අවාසි **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 04 යි)

(iii) ද්විතීයික දත්ත මූලාශ්‍රයක් වශයෙන් භූ ලක්ෂණ සිතියමවල වාසි **දෙකක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 04 යි)

(iv) ද්විතීයික දත්තවලට ආවේණික වූ දුර්වලතා **දෙකක්** පරීක්ෂා කරන්න. (ලකුණු 05 යි)

**5.** වගුව 1හි දක්වා ඇති දත්ත මත පදනම්ව පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**වගුව 1 : කලා විෂය ධාරාවෙන් විශ්වවිද්‍යාල ප්‍රවේශය සඳහා සුදුසුකම් ලද මුළු ශිෂ්‍ය සංඛ්‍යාව දිස්ත්‍රික්ක අනුව - අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය - 2022**

| **දිස්ත්‍රික්කය** | **මුළු සිසුන් සංඛ්‍යාව** |
|---|---|
| මන්නාරම | 504 |
| වව්නියාව | 509 |
| ත්‍රිකුණාමලය | 1356 |
| බදුල්ල | 2981 |
| මුලතිව් | 477 |
| නුවරඑළිය | 2103 |
| මොණරාගල | 1556 |
| යාපනය | 1859 |
| කිලිනොච්චිය | 495 |
| කෑගල්ල | 2801 |
| පුත්තලම | 1988 |
| මඩකලපුව | 1980 |
| අම්පාර | 2474 |

| **දිස්ත්‍රික්කය** | **මුළු සිසුන් සංඛ්‍යාව** |
|---|---|
| මාතලේ | 1745 |
| පොළොන්නරුව | 1152 |
| අනුරාධපුර | 2807 |
| කුරුණෑගල | 5497 |
| රත්නපුර | 3318 |
| මහනුවර | 4010 |
| මාතර | 2297 |
| කළුතර | 2936 |
| ගම්පහ | 4234 |
| හම්බන්තොට | 1804 |
| කොළඹ | 3684 |
| ගාල්ල | 2983 |
| **ශ්‍රී ලංකාව** | **57550** |

මූලාශ්‍රය : *ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව - 2023*

(i) ඉහත දත්ත භාවිත කරමින් පන්ති ප්‍රාන්තර සහ සංඛ්‍යාත ඇතුළත් වගුවක් සකස් කරන්න (පන්ති පරතරය 1200 ලෙස සලකන්න. පන්ති ප්‍රාන්තරවල ආරම්භක ලක්ෂ්‍යය ශුන්‍ය විය යුතුය). (ලකුණු 02 යි)

(ii) ඉහත 5 (i) හි, ඔබ විසින් සකස් කළ වගුව භාවිත කරමින් සංඛ්‍යාත බහු අස්‍රයක් සහිත ජාල රේඛයක් නිර්මාණය කරන්න (මේ සඳහා ප්‍රස්තාර කඩදාසියක් භාවිත කරන්න). (ලකුණු 07 යි)

(iii) ඔබ විසින් අඳින ලද ප්‍රස්තාරයෙන් හඳුනාගත හැකි කැපී පෙනෙන ප්‍රධාන ලක්ෂණ **හතරක්** පරීක්ෂා කරන්න. (ලකුණු 06 යි)

AL/2023(2024)/22/S-I

6. 2021 වර්ෂයේ දී ශ්‍රී ලංකාවේ ආනයන සංයුතිය වගුව 2හි දක්වා ඇත. වගුවෙහි දක්වා ඇති දත්ත පදනම් ගනිමින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**වගුව 2 : ශ්‍රී ලංකාවේ ආනයන සංයුතිය - 2021 (US$ මිලියන)**

| **ආනයන සංයුතිය** | **වටිනාකම (US$ මිලියන)** |
|---|---|
| නිමි භාණ්ඩ | 5977 |
| යන්ත්‍රෝපකරණ හා ප්‍රවාහන උපකරණ | 3976 |
| ඛනිජ ඉන්ධන, ලිහිසි ද්‍රව්‍ය සහ ආශ්‍රිත ද්‍රව්‍ය | 3743 |
| රසායන සහ ආශ්‍රිත නිෂ්පාදිත | 2848 |
| ආහාර සහ ජීවී සතුන් | 2275 |
| ඉන්ධන හැර ආහාරයට ගත නොහැකි දළ ද්‍රව්‍ය | 585 |
| වෙනත් | 1333 |
| **එකතුව** | **20637** |

*මූලාශ්‍රය : ශ්‍රී ලංකා මහ බැංකුව, වාර්ෂික වාර්තාව 2022, වෙළුම. I.*

(i) 2021 වර්ෂයේ ශ්‍රී ලංකාවේ ආනයන සංයුතිය දැක්වීම සඳහා වගුව 2හි දැක්වෙන දත්ත පදනම් කර ගනිමින් බෙදන ලද වෘත්ත ප්‍රස්තාරයක් (පයි ප්‍රස්තාරයක්) අඳින්න. (ලකුණු 08 යි)

(ii) ඔබ විසින් අඳින ලද ප්‍රස්තාරය පදනම් කර ගනිමින් ශ්‍රී ලංකාවේ ආනයන සංයුතියෙහි කැපී පෙනෙන ලක්ෂණ **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) වගුව 2හි දැක්වෙන දත්ත නිරූපණය සඳහා භාවිත කළ හැකි වෙනත් ප්‍රස්තාරික ක්‍රමයක් කටු සටහන් සහිතව කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 04 යි)

※ ※ ※

33811




SCALE 1 : 50,000

සමෝච්ච රේඛා අන්තරය මීටර 20
சமவுயரக்கோட்டு இடைவெளி 20 மீற்றர்
Contour Interval 20 metres